# දහම් පාසල

## 2 ශ්‍රේණිය

ලේඛක මණ්ඩලය
ශාස්ත්‍රපති ගෝනදූවේ ගුණානන්ද හිමිපාණෝ
ශාස්ත්‍රපති ගන්තුනේ අස්සජි හිමිපාණෝ
ආචාර්ය ධර්මසේන හෙට්ටිආරච්චි මහතා
ශාස්ත්‍රපති ගුණසේන මහතන්ත්‍රිගේ මහතා

සම්පාදනය හා ප්‍රකාශනය
බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුව



2 – CM 014648 දහම් පාසල් 2

උපදේශක මණ්ඩලය

අතිගරු ආචාර්ය වැලමිටියාවේ කුසලධම්ම නායක හිමිපාණෝ
ශාස්ත්‍රපති ගෝනදූවේ ගුණානන්ද හිමිපාණෝ
ශාස්ත්‍රපති ගන්තුනේ අස්සජි හිමිපාණෝ
ආචාර්ය ධර්මසේන හෙට්ටිආරච්චි මහතා
ශාස්ත්‍රපති ගුණසේන මහතන්ත්‍රිගේ මහතා

බෞද්ධ කටයුතු කොමසාරිස්
එච්. ඩබ්ලිව්. ඩී. සුනිල් මහතා

චිත්‍ර
ජ්‍යෙෂ්ඨ කථිකාචාර්ය සරත් ඥාණසිරි මහතා

සම්බන්ධීකරණය
ජේ. පී. චමිලා රෝහිණී ජයලත් මහත්මිය

# හැඳින්වීම

මෙය දහම් පාසලේ නව විෂය නිර්දේශය අනුව සම්පාදනය කරන ලද දෙවන ශ්‍රේණියට නියමිත පාඨ ග්‍රන්ථයයි. තේමා 06 ක් යටතේ පාඩම් 25 ක් මෙහි පෙළ ගස්වා ඇත. ඇතැම් පාඩම් ප්‍රායෝගික ක්‍රියාකාරකම් ලෙස ඉදිරිපත් කර ඇත.

නව නිර්දේශයෙන් අපේක්ෂිත නිපුණතා 10 ක් ඇතත් ඉන් ඇතැම් නිපුණතා මෙම පෙළ පොතේ පාඩම් ඇසුරෙන් ඉටුකර ගැනීමට බලාපොරොත්තු නොවේ. එම නිපුණතා ඉටුකර ගැනීමට අපේක්ෂා කෙරෙනුයේ ඉහළ ශ්‍රේණිවලදීය. අපේක්ෂිත නිපුණතා මෙහි දක්වා ඇත.

මෙම පාඨ ග්‍රන්ථය ඉගැන්වීම සඳහා මග පෙන්වන ගුරු අත් පොතක්ද ලබාදීමට අපේක්ෂා කෙරේ. එහි දැක්වෙන උපදෙස් හා මග පෙන්වීම්ද සැලකිල්ලට ගනිමින් නිර්මාණාත්මකව පාඨ ග්‍රන්ථයේ එන පාඩම් ඉගැන්වීමට උත්සාහ කරන්න. සාම්ප්‍රදායික කියාදීමේ ක්‍රමයෙන් බැහැර වී හැකි හැමවිටම ශිෂ්‍ය කේන්ද්‍රියව, ශිෂ්‍ය ක්‍රියාකාරීත්වයට මුල්තැන දෙමින් ඉගෙනුමට අවස්ථා සලසා දීමට උත්සාහ කරන්න.

ලේඛක මණ්ඩලය.

## දහම් පාසල් අධ්‍යාපනයේ නිපුණතා

1. දහම් පාසල් අධ්‍යාපනයේ වටිනාකම හැඳිනගෙන තෙරුවන් කෙරෙහි ශ්‍රද්ධාවෙන් ක්‍රියා කරයි.
2. බුද්ධ චරිතය හා වෙනත් ශ්‍රේෂ්ඨ බෞද්ධ චරිත හැඳින ඒවා චරිතායනය කරයි.
3. පන්සිල් සුරකිමින් සහරුවනට හා ගුරුදෙගුරුන්ට ගරුබුහුමන් දක්වයි.
4. ධර්මය පිළිබඳ නිවැරදි, නිරවුල් දැනුමක් ඇතිව තමන්ටත්, අනුන්ටත් හිත පිණිස වන පෞරුෂයක් ගොඩනගා ගැනීමට ක්‍රියා කරයි.
5. කායික හා මානසික සෞඛ්‍යය පිළිබඳ සැලකිලිමත් වෙමින්, විවේකය ඵලදායි ලෙස ගතකරයි.
6. දේශාභිමානයෙන් යුතුව ශාසනික උරුමය සහ බෞද්ධ සංස්කෘතික දායාද ආරක්ෂා කර ගැනීමට ක්‍රියා කරයි.
7. බෞද්ධ නිර්නායක අනුව කළයුතු නොකළයුතු දේ නිවැරදිව හැඳිනගෙන ඒ අනුව ක්‍රියා කරයි.
8. බෞද්ධ ආර්ථික හා දේශපාලන දර්ශනය හැඳිනගෙන ඊට අනුගත වෙයි.
9. බෞද්ධ සිරිත් විරිත් වත් පිළිවෙත් හා පරිසරය හැඳින ඊට අනුරූපව ක්‍රියාකරයි.
10. පාළි භාෂා කුසලතාව සහ අභිධර්මය පිළිබඳ මූලික දැනුම ඇතිකර ගැනීමට ක්‍රියා කරයි.

| තේමා | පාඩම් |
|---|---|
| 01. තෙරුවන් | 02 |
| 02. චරිත කතා හා ජාතක කතා | 03, 04, 05, 06, 07, 08, 09, 10, 12 |
| 03. ගරු කළයුතු අය හා තැන් | 01, 16, 22, 25 |
| 04. දහම් කවි | 24 |
| 05. හොඳ පුරුදු හා සිරිත් | 11, 13, 14, 15, 23 |
| 06. අපේ උත්සව | 17, 18, 19, 20, 21, 24 |

# පටුන

# තෙරුවන් සරණ යමු

බුද්ධං සරණං ගච්ඡාමි
නමස්කාර වේවා ! බුදු රුවනට.
සැමදා මම බුදු සරණ යමි.





ධම්මං සරණං ගච්ඡාමි
නමස්කාර වේවා ! දම් රුවනට.
සැමදා මම දම් සරණ යමි.



සංඝං සරණං ගච්ඡාමි
නමස්කාර වේවා ! සඟරුවනට.
සැමදා මම සඟ සරණ යමි.

# අපේ දහම් පාසල



පාන්දරින් නැගිටලා
වට්ටියකට මල් තෙලා
දෙමාපියන් නැමඳලා
දම්පාසල වෙත යමු



අවට බොහොම ලස්සනයි
පිරිසිදුයි හරි හොඳයි
පාවහන් ගලවලා
තුටු සිතින් පිවිසෙමු

මල් අරගෙන පේලි හැදෙමු
සාදු ! සාදු !! සාදු !!! කියමු
තෙරුවන් ගුණ ගී ගයමින්
සුවඳ මලින් මුනිඳු පුදමු

# බෝසත් උපත

එදා වෙසක් පෝය දවසක්
ලුම්බිණි උයන පුරාම
සල් මල් පිපිලා.
හරිම ලස්සනයි
සුවඳ හමනවා
ඒ ලස්සන උයනේදී
බෝසත් උපත සිදුවුනා.
බෝසත් උපත අසිරිමත් ය



පුහුණුවට :

පියුම් හතක් පිට
කුමරුන් වැඩියා
ලොවම සුවඳ කර
වන මල් පිපුණා
සාදු නදින් මුළු
ලොව ම පිබිදුනා
කාටත් නිම් නැති
සතුටක් දැනුනා



4 – CM 014648 දහම් පාසල් 2

# බුදු වීම

වෙසක් පුන් පොහෝ දා
සඳ එළියෙන්
බුද්ධගයාව බැබලුනා.
ජයසිරිමහ බෝ සෙවනේදී
සිදුහත් බෝසතාණෝ
උතුම් බුදු බව ලැබුවා.



බුදු උපත සැපතකි.

# පිරිනිවන් පෑම



වෙසක් සඳ
බැසයමින් තිබුණා
කුසිනාරාවේ
මල්ල රජුන්ගේ
සල් උයනේ දී
බුදු හාමුදුරුවෝ
පිරිනිවන් පෑවා
මුළු ලොව ම
කම්පා වුණා

පුහුණුවට :

වෙසක් දිනේ
සල් උයනේ
කුමරු ඉපදුනා

වෙසක් දිනේ
බෝ සෙවනේ
බුදු බව ලැබුවා

වෙසක් දිනේ
සල් සෙවනේ
පිරිනිවනට පත් වුණා.

# මව්පියන්ට සලකන බොදු දරුවෝ වෙමු



පෙර බරණැස් නුවර
සාම නම් වූ කුමාරයෙක් හිටියා
සාම කුමාරයා අම්මටත් තාත්තටත්
හරි ආදරෙයි

පුතාටත්
අම්මා, තාත්තා
හරි ආදරෙයි

සාම කුමාරයා සතුන්ටත් ආදරෙයි
මුවෝ, හාවෝ
ගිරව්, මයිනෝ, ලේන්නු
සාම කුමාරයාගේ යාළුවෝ

දවසක් සාම කුමාරයා
යාළු සතුන් සමග
පැන් ගෙන ඒමට
ගඟට ගියා



බරණැස් රජතුමා
මේ වෙලාවේ මුව දඩයමේ
ඇවිත් හිටියා
රජතුමා හීයකින්
මුවකුට විද්දා
අනේ !
ඒ හීය සාම කුමාරයාට වැදුනා

# යාළුවෝ තුන් දෙනෙක්

කැලෑවක සත්තු තුන් දෙනෙක් හිටියා
ඇතා, වඳුරා, වටුවා
තුන් දෙනාම යාළුවෝ



මහ නුග ගහක් යට
යාලුවෝ තුන්දෙනා කතා බහක්
අප තුන් දෙනාගෙන්
වයසින් වැඩි ම එක්කෙනා කව්ද ?

" මා පුංචිම කාලෙ
මෙතැනින් යනකොට
මේ ගසේ උස ම දල්ල
මගේ බඩේ ගෑවුණා
එතරම් ම පුංචි පැලයක් "
ඇතා එහෙම කීවා

ඊළඟට කතා කලේ වඳුරා
" මේ ගහ ඊටත් පුංචි කාලෙ ඉඳල
මා දන්නවා
මා පුංචි කාලෙ
බිම ඉඳගෙන ම
මේ ගසේ උඩ ම දල්ල කඩාගෙන කෑවා
ඒක නිසා
ඇත් යාළුවාට වඩා මට වයස වැඩියි "

වටුවා මෙහෙම කීවා

" ඈත තිබුණා මේ වගේම ලොකු නුග ගහක්
මා ඒකෙන් ගෙඩියක් කාලා
මෙතැන වසුරු පිඩක් දැම්මා
ඒකෙන් තමයි
මේ ගස පැලවුනේ "

# සමඟි වෙලා ජය ගනිමු



ඉස්සර කාලෙක
වටු වැද්දෙක් හිටියා
දවසක් වටු වැද්දා
දැල එලුවා
වටුවො දැලට අසුවුණා
සියලු දෙනා ම එකතු වී
දැල ඔසවාගෙන ගියා

ඊට පස්සෙ දවසකත්
වැද්දාගේ දැලට
වටුවො අසුවුණා.



එදා වටුවො රණ්ඩුවෙලා
කවුරුවත් දැල ඉස්සුවෙ නැහැ.
වටුවැද්දා වටුවත්
සේරම අල්ලා ගත්තා.

පුහුණුවට :

| | |
|---|---|
| සමඟිය බලය | වේ |
| සැමට ම සැපත ඇති | වේ |
| අසමඟිය දුක | වේ |
| හැම දෙනාට ම විපත් ඇති | වේ |

# සෝපාක පොඩි හාමුදුරුවෝ



තාත්තා නැති
පුංචි අසරණ ළමයෙක්
අම්මට හොරෙන්
මිනී පිට්ටනියකට ගෙනැවිත් දාලා
ඔහුගේ නම සෝපාක.

මහ රෑ
සෝපාකට හරිම බයයි
"අනේ! මාව බේරා ගන්න කෙනෙක් නැද්ද"
එහෙම කියමින් සෝපාක ඇඬුවා.



බුදු හාමුදුරුවෝ
සෝපාකට කථා කළා
" සෝපාක මා ළඟට එන්න
මා ඔබට පිහිට වෙනවා "

සෝපාකගෙ බය නැතිවුණා
හරිම සතුටින්
බුදුහාමුදුරුවන් ළඟට ගියා.

බුදු හාමුදුරුවො
අසරණ සෝපාකට පිහිට වුණා
බණ කියා දුන්නා
සෝපාක හරිම කැමැත්තෙන් මහණ වුණා
සෝපාකගෙ අම්මටත් හරි සතුටුයි.

බුදු හාමුදුරුවො ළමයින්ට කරුණාවයි

කරුණාවෙන් යුතු බුදු හිමි
සාධු කියා මම නමදිමි
අසරණයන් හට සලකමි
මම හොඳ බොදු දරුවෙක් වෙමි.

# රාහුල පොඩි හාමුදුරුවෝ





අන්න පුතා
අර බලන්න
ලස්සන හාමුදුරුනමක් නේද
අම්මා !

ඔව් පුතා. ඒ ඔබේ පියා
බුදුහාමුදුරුවො

යන්න
ගිහින් කථා කරන්න.

රාහුල කුමාරයා දිව ගියා
බුදුහාමුදුරුවන්ගෙ
අතේ ඇඟිල්ලක් අල්ලා ගත්තා
සුරතල් කතා කියමින්
විහාරයට ම ගියා
මහණ වුණා
හරිම කීකරුයි



උදේට මිදුලෙ ඇවිදින
රාහුල පොඩි හාමුදුරුවො
වැලි ටිකක් ගෙන උඩට වීසි කරනවා
මේ වැලි ඇට තරමට
අද මට
අවවාද ලැබෙන්න ඕනෑ

11 පාඩම

# අම්මාට තාත්තාට වඳිමු

දසමාසේ උරේකත්වා
පෝසේසි වුද්ධිකාරණං
ආයුදීඝං වස්ස සතං
මාතු පාදං නමාමහං



වුද්ධිකාරෝ ආලිංගිත්වා
වුම්බිත්වා පිය පුත්තකං
රාජමජ්ඣං සුපතිට්ඨං
පිතු පාදං නමාමහං

# විහාර මහා දේවී

ඉස්සර දවසකත්
මුහුද ගොඩ ගලා
අපේ රටට
මහා විනාශයක් වෙන්න ගියා.

තමා මුහුදට බිලි වුණොත්
රට බේරා ගත හැකි බව
දේවී කුමරියට අසන්න ලැබුණා
ඇය කැලණිතිස්ස රජතුමාගේ
දියණිය යි.



කුමරිය බය නැතිව
නැවක නැගී
මුහුදේ පාවී ගියා
ටික දිනකට පසු
නැව රුහුණේ
වෙරළට ගොඩ ගැසුවා.



මේ බව
කාවන්තිස්ස රජතුමාට
ආරංචි වුණා.
දේවී කුමරියගේ
නිර්භීත කමට කැමති වී
රජතුමා ඇය අගබිසව් කර
ගත්තා.

ගැමුණු කුමාරයාත්
තිස්ස කුමාරයාත්
ඇගේ පුතුන් දෙදෙනා යි.

ඒ දෙදෙනා ම
අපේ රටේ සිටි
හොඳම රජවරු දෙන්නෙක්.

# පිරිසිදුකම සුරකිමු



පාන්දරින් නැගිට්ටිමු
දත්මැද මූව සෝදමු
හිස පීරා සැරසෙමු
හොඳ සිරිතට හුරුවෙමු

ගේ දොර පිරිසිදු කරමු
පොත පත නිසි තැන තබමු
තැන තැන කුණු කසල නොදා
ඉන්නට අපි පුරුදු වෙමු.



# භාවනාවට වාඩි වෙමු

අපේ පන්තියේ සියලු ම ළමයි
භාවනා කිරීමට සූදානම් වුනා.
එක එක්කෙනා ඇඟේ නොගැවෙන විදියට වාඩිවුනා.

පිරිමි ළමයින් වාඩිවුනේ එරමිණිය ගොතාගෙන
ගැහැණු ළමයින් පා දෙක පසුපසට නමාගෙන වාඩි වුනා.

සියලු දෙනා ම හිස කෙලින් තබා ගත්තා.
ඇඟ කෙලින් තබා ගත්තා.
ඇස් දෙක පියා ගත්තා.

ටික වේලාවක්
ගුරුතුමිය කී ආකාරයට
කිසිම ශබ්දයක් නැතුව
හිඳගෙන සිටියා.



# අපි භාවනා කරමු

මම      නිදුක් වෙම්වා !
නිරෝගි වෙම්වා !
සුවපත් වෙම්වා !

මගේ අම්මා      නිදුක් වේවා !
නිරෝගි වේවා !
සුවපත් වේවා !

මගේ තාත්තා      නිදුක් වේවා !
නිරෝගි වේවා !
සුවපත් වේවා !

සියලු සත්වයෝ      නිදුක් වෙත්වා !
නිරෝගි වෙත්වා !
සුවපත් වෙත්වා !



පුහුණුවට :

දුක් නිදුක් වේවා !
හැම බය නිබය වේවා !
සෝක දුරු වේවා !
සැමට සැනසුම උදා වේවා !

# වඳිමු පුදමු සෑ රදුන්

"දුවේ පුතේ
අද අපි වෙහෙර වහන්සේ වඳිමු "
ගුරුතුමිය කිවා.

අපි <u>අත් ධෝවනය</u> කරගෙන
මල් වට්ටි <u>ලස්සනට</u> පිළියෙල කළා
<u>මලකින් ම</u> මල් වලට පැන් ඉස්සා.

<u>දෝතින් ම</u> මල් වට්ටි අර ගත්තා.
සාධු ! සාධු !! සාධු !!!
<u>පෙරහැරින්</u> ගියා වෙහෙර මලුවට.

කවි කියමින් ම වෙහෙර වහන්සේ පැදකුණු කළා

සාධූ සාධූ බුදු රුවන වඳිනවා
සාධූ සාධූ දම් රුවන වඳිනවා
සාධූ සාධූ සඟ රුවන වඳිනවා
සාධූ සාධූ අපි වෙහෙර වඳිනවා

දෝතින් ම මල් වට්ටි මල් ආසන වල තැන්පත් කළා
වෙහෙර මලුවේ ලස්සනට වාඩි වුනා
දොහොත් තලලේ තබාගෙන වන්දනා කළා
මල් පූජා කළා

පැහැ සුවඳ ගුණ ඇති
ලස්සන මේ කුසුම් රැස
පුදමි බුදු සමිඳුට
මේ සෑ රදුන් අබියස
සාධූ ! සාධූ !! සාධූ !!!



# වෙසක් උත්සවය

වෙසක් පෝය දාට
පන්සලේ සාදු නාදය
ඝණ්ඨා නාදය ඇසෙනවා
සුවඳ මල් පිපී තිබෙනවා
රෑට හඳ පායලා හරිම ලස්සනයි
හැම ගෙදරක·ම වෙසක් කූඩු දැල්වෙනවා

වෙසක් පෝය දා
බෝසත් සිදුහත් කුමාරයා ඉපදුනා
බුදුවුනා
බුදුහාමුදුරුවො පිරිනිවන් පෑවා

අපි වෙසක් දාට
පහන් කූඩු හදමු
පන්සල් යමු
සිල් සමාදන් වෙමු



# සිංහල අලුත් අවුරුද්ද



අලුත් අවුරුද්දට
අපි අලුත් ඇඳුම් අඳිනවා
උත්සව පවත්වනවා
අප කාටත් හරි සතුටුයි

තෙල් මල් අරගෙන පන්සල් යනවා
පන්සලේ හාමුදුරුවන්ට
බුලත් දී වඳිනවා

අවුරුද්දට නෑයො එනවා
ඒ අයට කැවුම් කිරිබත් ආදියෙන්
සංග්‍රහ කරනවා

අම්මාට, තාත්තාට
බුලත් දී වඳිනවා



තාත්තා අපේ හිස තෙල් ගානවා
ලෙඩ නැතිව ඉන්න ලැබේවා කියා
ආශිර්වාද කරනවා



පුහුණුවට

වැඩිහිටියන් වඳින පුදන
කාගෙත් සිත් සමගි කරන
පුංචි අපට සතුට ගෙනෙන
අවුරුදු ආවා, අවුරුදු ආවා.



# අපි හොඳ බොදු දරුවෝ වෙමු

මිනිසුන් වාගෙම සතුනුත්
ජීවත් වෙන්නට කැමතියි
එනිසා හැම සතකුගේම
දිවි රැකුමට ඉටා ගනිමු

අප සතු දේ අපට වටියි
අන් අයටත් ඒ වාගෙයි
එනිසා අපි අනුන්ගෙ දේ
රැක දෙන්නට ඉටා ගනිමු

බොරුවෙන් අප රවටනවට
කිසිම දිනක අකමැති වෙමු
එනිසා අප සැබෑවක්ම
පවසන්නට ඉටා ගනිමු

උදේ සවස සිල් ගන්නත්
වැරදියි සිල් පද කැඩුවොත්
පුංචි කාලෙ ඉඳලම අපි
හොඳ දෙයක්ම ඉටා ගනිමු



# හොඳ වචන කථා කරමු

සිතා මතා
මගේ කටින්
කිසිදින බොරුවක් නොකියමි
සතුටින්
සමගියෙන් සිටින
අය බිඳුවන බස් නොකියමි
අසමගි අය
සමගි කරන
වචන නිතර කතා කරමි
අසන අයගෙ
සිතට රිදෙන
නරක වචන මම නොකියමි
කන පිනවන
සිත සැනසෙන
මිහිරි වචන මම පවසමි
අතන මෙතැන
කතා කරන
වැඩකට නැති
බස් නොකියමි
අසන අයට
කියන අයට
සෙත සැලසෙන
බස් පවසමි
බොරු කේලම්
නරක වචන
වැඩකට නැති
බස් නොකියමි
මගෙ දියුණුව
සැපත සඳන
හොඳ වචන ම කතා කරමි

පුතා හොඳා
කියා සැමට
සිතෙන පරිදි ඇත්ත කියමි



# හොඳින් ඉගෙන ගනිමු

සුරංග, සුජීව
දේවිකා, ධම්මිකා
හතර දෙනාම යාලුවෝ

මේ හතර දෙනා
පාසලට ගියේ
හරිම කැමැත්තෙන්
දිනපතා ම පාසල් ගියා

ගුරුතුමිය කියා දෙන පාඩම්
හොඳට ඉගෙන ගත්තා
ලියා දෙන අකුරු, ඉලක්කම්
ලස්සනට ලීවා

නටන්න ගයන්න
දුවන්න පනින්න
බය නැතුව
ඉදිරිපත් වුනා

සෑම ඉරු දිනක ම
හරිම සතුටින්
දහම් පාසල් ගියා



මල් වට්ටියක් ගෙනියන්න
කවදාවත් අමතක කළේ නෑ

ස්වාමීන් වහන්සේට
ගුරුතුමාට ගුරුතුමියට
කීකරුව
වත් පිළිවෙත් පුරුදු වුනා.

බණකතා, ගාථා දහම් කවි
ඉගෙන ගත්තා
ඉගෙන ගත් බණ කතා
දහම් පාසල් ළමා සමිතියේ දී කියන්න
හතර දෙනාම ඉදිරිපත් වුනා

ගාථා, දහම් කවි, බුදුගුණ ගී
ලස්සනට ගායනා කළා

පාසලේදීත් දහම් පාසලේදීත්
පැවරෙන ගෙදර වැඩ
නොවරදවා ම
කරගෙන ගියා

1 ශ්‍රේණියේ සිට ම
හොඳට ඉගෙන ගත්ත නිසා
ශිෂ්‍යත්ව විභාගය
හතර දෙනාට ම ලේසි වුනා

ශිෂ්‍යත්ව විභාගයෙන්
ඉතා ම හොඳින් සමත් වුණේ
සුරංග, සුජීව, දේවිකා හා ධම්මිකා යි
ඒ අයට හරිම සතුටුයි

ඒ අයගෙ අම්මලත්, තාත්තලත්
ගුරුතුමාත්, ගුරුතුමියත්
හරිම සතුටු වුනා
දහම් පාසලේ ස්වාමීන් වහන්සේටත්
හරිම සතුටුයි
හතර දෙනාට ම තෑගිත් ලැබුණා

මමත් හොඳට ඉගෙන ගනිමි
හොඳ බොදු දරුවෙක් වෙමි

# අපි තුන් බෝ වඳිමු

පන්සලට ගිය පසු අපි මුලින් ම වඳින්නේ දාගැබ් වහන්සේට යි

දෙවනුව වඳින්නේ බෝධීන් වහන්සේට යි

අපි තුන් වෙනුව වඳින්නේ බුදු පිළිම වහන්සේට යි

තුන් බෝ කියන්නේ මේ ස්ථාන තුනට යි

පුහුණුවට :

සුපිහිටිය සැම තැන
මුනිඳු ගුණ සිහි කරවන
දා, බෝ, පිළිම යන
උතුම් තුන් සෑ වඳිමි අඳරින

වන්දාමි චේතියං සබ්බං
සබ්බඨානෙසු පතිට්ඨිතං
සාරීරික ධාතු මහා බෝධිං
බුද්ධ රූපං සකලං සදා



23 පාඩම

# හොඳ සිරිත්

කෑමට පෙර හා පසුවත්
අත කට සෝදමු අපි
නින්දට පෙර මුව සෝදා
හොඳ සිරිතට හුරු වෙමු.

අහර ගන්නා කල
අත ලෙව කෑම හොඳ නැත
අපි වතුර බොන විට
සුරු සුරු ගෑම හොඳ නැත



# හොඳ පුරුදු

ඇනුම් පද නො කියමි
බැණුම් කැත බස් නොකියමි
තිකම් බස් නොකියමි
තරම් පමණට වදන් තෙපලමි

හිසකේ හැපීම ද
ඉන්න තැන කෙළ ගැසුම ද
නියපොතු විකීම ද
අසුබ ලකුණුය සිතන් හැම සඳ

කතා බස් කරමින
සිටින දෙදෙනකු අතරින
ගමන නොහොබී යන
වසනු යහපති එබව දැන ගෙන

යමකු යන එන විට
සිනා නොමසන් කිසි විට
පැමිණි කල ගෙදරට
එබී නොබලනු සැගවී ගෙයි සිට



පුහුණුවට

මෙම පද්‍ය කට පාඩම් කරන්න

25 පාඩම

# බුදුහාමුදුරුවන්ට මල් පූජා කරමු

වණ්ණගන්ධගුණෝපේතං
ඒතං කුසුම සන්තතිං
පූජයාමි මුනින්දස්ස
සිරිපාද සරෝරුහේ

පූජේමි බුද්ධං කුසුමේනනේන
පුඤ්ඤේනමේතේන ලභාමි මොක්ඛං
පුප්ඵං මිලායාති යථා ඉදං මෙ
කායෝ තථායාති විනාසභාවං

පැහැ සුවඳ ගුණ ඇති
මෙ පියකරු වූ මල් රැස
පුදමි බුදු සමිඳුට
සිරි පා පියුම් අබියස

පහදවා තුන් සිත
මේ මල් බුදු රදුන් වෙත
පුදා බැතියෙන් සිත
පතමි ලොව්තුරු
නිවන් සම්පත

මල් පිදූ කුසලෙන්
සැනසෙමි නිවන් සුවයෙන්
පරව යන මල් සේ
මාගේ කයත් වැනසේ



# දහම් පාසල් සිසුන් සඳහා

# නොමිලයේ

# බෙදාදීම පිණිසයි

බෞද්ධ කටයුතු දෙපාර්තමේන්තුව විසින් රජයේ මුද්‍රණ දෙපාර්තමේන්තුවේ
මුද්‍රණය කරවා පළ කරන ලදී.